අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

| | | |
|---|---|---|
| ගෘහ ආර්ථික විද්‍යාව I<br>மனைப் பொருளியல் I<br>Home Economics I | 28 S I | පැය දෙකයි<br>இரண்டு மணித்தியாலம்<br>Two hours |

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
* ගණක යන්ත්‍ර භාවිතයට ඉඩ දෙනු **නොලැබේ.**
* උත්තර පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
* 1 සිට 50 තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොදා දක්වන්න.**

**1.** පහත සඳහන් මූලධර්ම අතුරෙන් ගෘහය තුළ විවිධ කොටස් කරා ගමන් කිරීමේ පහසුව දැක්වෙනුයේ කුමකින් ද?
(1) රාශිකරණය (2) සංක්‍රමණය (3) සංසරණය (4) අනුක්‍රමණය (5) නම්‍යතාව

**2.** ගෘහ නිර්මාණයේ දී සිරස් රේඛා සහ විකර්ණාකාර රේඛා මගින් හැඟවෙන ලක්ෂණ දෙක වනුයේ පිළිවෙළින්,
(1) ස්ථායිබව සහ නම්‍යශීලීබව ය. (2) උස්බව සහ ක්‍රියාශීලීබව ය.
(3) උස්බව සහ ස්ථායිබව ය. (4) ක්‍රියාශීලීබව සහ ශාන්තබව ය.
(5) ශාන්තබව සහ නම්‍යශීලීබව ය.

**3.** නිවෙස් අලංකරණය හා සම්බන්ධ පහත සඳහන් වැකි අතුරෙන් නිවැරදි වැකිය කුමක් ද?
(1) මල් සැකසුමක අලංකාරය සඳහා ලා පැහැ විශාල මල් ඉහළටත්, තද පැහැ කුඩා මල් පහළටත් යෙදිය යුතු ය.
(2) කාමරයක් වර්ණ ගැන්වීමේ දී වර්ණ ගැළපුමෙහි ඇතුළත් සියලු වර්ණ සම ප්‍රමාණයෙන් යොදා ගනියි.
(3) විසිතුරු බුමුතුරුණක් සහිත විසිත්ත කාමරයක් සඳහා වඩාත් යෝග්‍ය වනුයේ මුද්‍රිත තිර රෙදි ය.
(4) ඉඩකඩ සීමිත කාමරවල ජනේල සහ දොර සඳහා ලා පැහැ වර්ණ තිර රෙදි යෙදීම සුදුසු වේ.
(5) රළු වයනයකින් යුත් බඳුනක ඇන්තූරියම් මල් යෙදූ මල් සැකසුමක්, රෙක්සීන් ආවරණ සහිත වානේ පුටු කට්ටලයක් සඳහා යෝග්‍ය වේ.

**4.** 12' x 12' කාමරයක සෘජුකෝණී හැඩයක් පිළිබිඹු කිරීම සඳහා යොදා ගත හැකි ක්‍රියාමාර්ගයක් වනුයේ මින් කුමක් ද?
(1) සිවිලිමට ලා වර්ණයක් ආලේප කිරීම
(2) සමාන්තර බිත්ති දෙකකට තද පැහැයක් ආලේප කිරීම
(3) එකිනෙකට ආසන්න බිත්ති දෙකකට එකම වර්ණය ආලේප කිරීම
(4) ප්‍රතිවිරුද්ධ බිත්ති දෙකක් සඳහා ග්‍රිල් සහිත ජනේල සවි කිරීම
(5) දොර සඳහා සිරස් රේඛා සහිත තිර රෙදි යෙදීම

**5.** වර්ණයක අගය හා සම්බන්ධව සිසුවෙකු විසින් ප්‍රකාශ කරන ලද කරුණු කිහිපයක් පහත දැක්වේ. මින් නිවැරදි කරුණ කුමක් ද?
(1) වර්ණයක අගය අඩු වූ විට වස්තුවක ප්‍රමාණය කුඩා කර පෙන්වයි.
(2) කළු වර්ණය එක් කිරීමෙන් වර්ණයක අගය වෙනස් නොවේ.
(3) අවට ආලෝකය අනුව වර්ණයක අගය වෙනස් වේ.
(4) අගය මගින් වර්ණයක තද බව හෝ ලා බව හෝ පිළිබිඹු කරයි.
(5) වර්ණ චක්‍රයෙහි ප්‍රතිවිරුද්ධ වර්ණ මිශ්‍ර කිරීමෙන් අගය වෙනස් නොවේ.

**6.** පහත සඳහන් වැකි අතුරෙන් ගෘහ කළමනාකරණය හා සම්බන්ධ නිවැරදි වැකිය තෝරන්න.
(1) ජල පවිත්‍රකරණයේ දී ජලය ලීටර 100ක් සඳහා ක්ලෝරීන් ග්‍රෑම් 5ක් පමණ එකතු කරයි.
(2) වැසිකිළි පෝච්චිය පිරිසිදු කිරීම සඳහා ප්‍රබල විෂබීජ නාශක යෙදීම වඩාත් යෝග්‍ය වේ.
(3) නිවසක අපද්‍රව්‍ය පිළිස්සීමේ දී පූර්ණ දහනය සිදු වේ.
(4) පූතික ටැංකිය (සෙප්ටික් ටැංකිය) තුළ දී ඝන අපද්‍රව්‍ය දිරාපත් කරනුයේ ස්වායු බැක්ටීරියා ක්‍රියාකාරිත්වය මගිනි.
(5) පොලිතීන් හා ප්ලාස්ටික් පිළිස්සීමේ දී පිටවන ඩයොක්සින් වායුව නිසා පරිසරය දූෂණය වේ.

[දෙවැනි පිටුව බලන්න.

7. තාප දීප්ත (සූත්‍රිකා) බල්බ හා සම්බන්ධ නිවැරදි වැකිය මින් කුමක් ද?
   (1) සුදු ආලෝකය උත්පාදනය කරයි.
   (2) ජීව කාලය වැඩි ය.
   (3) බල්බ තුළ පුරවනු ලබන්නේ නයිට්‍රජන් වායුව පමණි.
   (4) වැඩි තාප ප්‍රමාණයක් පිට කරයි.
   (5) අඩු විද්‍යුත් ශක්ති ප්‍රමාණයක් වැය වේ.

8. ඉතාම සරල අණුක සූත්‍රයක් සහ ව්‍යුහ සූත්‍රයක් ඇති ඇමයිනෝ අම්ලය මින් කුමක් ද?
   (1) ලයිසීන්
   (2) ග්ලයිසීන්
   (3) ලියුසීන්
   (4) ඇලනීන්
   (5) අයිසොලියුසීන්

9. ඒක අසංතෘප්ත මේද අම්ල අඩංගු ආහාර ද්‍රව්‍යයකි,
   (1) බටර්. (2) මාළු. (3) මස්. (4) අලිගැටපේර. (5) පොල්තෙල්.

10. $C_{15}H_{31}COOH$ යන අණුක සූත්‍රයෙන් දැක්වෙන මේද අම්ලය වනුයේ,
   (1) පාමිටික් අම්ලය ය.
   (2) ඔලීක් අම්ලය ය.
   (3) ලිනොලෙයික් අම්ලය ය.
   (4) ලිනොලෙනික් අම්ලය ය.
   (5) ඇරකිඩොනික් අම්ලය ය.

11. නිර්දේශිත දෛනික පෝෂණ අවශ්‍යතා සටහන (2007) හා සම්බන්ධ නිවැරදි ප්‍රකාශය මින් කුමක් ද?
   (1) ළදරු අවධියේ දී යකඩ අවශ්‍යතාව නොවෙනස්ව පවතී.
   (2) නව යොවුන් අවධියේ දී ගැහැණු හා පිරිමි දරුවන්ගේ කැල්සියම් අවශ්‍යතාව සමාන ය.
   (3) ගර්භිණී අවධිය තුළ දී ශක්ති අවශ්‍යතාව නොවෙනස්ව පවතී.
   (4) ක්ෂීරණ අවධියේ දී විටමින් A අවශ්‍යතාව වැඩි වේ.
   (5) මහලු අවධියේ දී ප්‍රෝටීන් අවශ්‍යතාව අඩු වේ.

12. ෆේලින්ග් A හා B ද්‍රාවණ එකතුකර, රත් කිරීමේ දී ගඩොල් රතු පැහැති අවක්ෂේපයක් සැදෙනුයේ මින් කුමක් මගින් ද?
   (1) සුක්‍රෝස්
   (2) මෝල්ටෝස්
   (3) ග්ලූකෝස්
   (4) ග්ලූකෝස් හා මෝල්ටෝස්
   (5) ෆෲක්ටෝස් හා සුක්‍රෝස්

13. ආහාරයේ අඩංගු යකඩ සිරුරට අවශෝෂණය වීම වඩාත් වේගවත් කරන කාරක දෙකක් වනුයේ,
   (1) ෆයිටික් අම්ලය සහ ඔක්සැලික් අම්ලය ය.
   (2) පාමිටික් අම්ලය සහ ස්ටියරික් අම්ලය ය.
   (3) ඇසිටික් අම්ලය සහ ලිනොලෙයික් අම්ලය ය.
   (4) ෆෝලික් අම්ලය සහ පැන්ටොතෙනික් අම්ලය ය.
   (5) සිට්‍රික් අම්ලය සහ ඇස්කෝබික් අම්ලය ය.

14. තයිරොක්සීන් හෝමෝනය පිළිබඳ **සාවද්‍ය** ප්‍රකාශය මින් කුමක් ද?
   (1) සමෙහි නිරෝගිතාව පවත්වා ගනියි.
   (2) වර්ධක හෝමෝනයකි.
   (3) මූලස්ථ පරිවෘත්තික වේගය පාලනය කරයි.
   (4) නිපදවීම සඳහා අයඩීන් අවශ්‍ය වේ.
   (5) කලලයේ මනා වර්ධනය සඳහා වැදගත් වේ.

15. ක්ෂුද්‍ර ඛනිජ දෙකකි,
   (1) අයඩීන් හා මැග්නීසියම්.
   (2) කැල්සියම් හා මැන්ගනීස්.
   (3) තඹ හා සෝඩියම්.
   (4) කොබෝල්ට් හා පොටෑසියම්.
   (5) යකඩ හා සින්ක්.

16. විටමින් B කාණ්ඩයට අයත් වන සයනොකොබෝල්ඇමීන් හඳුන්වනුයේ,
   (1) විටමින් $B_1$ ලෙස ය.
   (2) විටමින් $B_2$ ලෙස ය.
   (3) විටමින් $B_3$ ලෙස ය.
   (4) විටමින් $B_6$ ලෙස ය.
   (5) විටමින් $B_{12}$ ලෙස ය.

**17.** පහත දැක්වෙනුයේ විටමින් වර්ග හා සම්බන්ධ කරුණු කිහිපයකි.

*A* - අක්මාවෙහි ගබඩා වීම
*B* - නිපදවීම සඳහා කොලෙස්ටරෝල් අවශ්‍ය වීම
*C* - කැල්සියම් අවශෝෂණය වැඩි කිරීම
*D* - රුධිරයට සෘජුව ම අවශෝෂණය වීම
*E* - ස්ථායිතාවයෙන් අඩුම විටමිනය වීම

මේවායින් විටමින් D හා සම්බන්ධ කරුණු වනුයේ,

(1) *A*, *B* හා *C* ය. (2) *A*, *C* හා *E* ය. (3) *C*, *D* හා *E* ය. (4) *A* හා *B* ය. (5) *D* හා *E* ය.

**18.** උදේ ආහාර වේලක අඩංගු මුළු ශක්ති ප්‍රමාණය කිලෝ කැලරි 550 කි. එහි ප්‍රෝටීන් ග්‍රෑම් 15 ක් සහ මේද ග්‍රෑම් 10 ක් අඩංගු වේ. මෙම ආහාර වේලෙහි අඩංගු කාබොහයිඩ්‍රේට් ප්‍රමාණය වනුයේ,

(1) ග්‍රෑම් 80 කි. (2) ග්‍රෑම් 90 කි. (3) ග්‍රෑම් 100 කි. (4) ග්‍රෑම් 110 කි. (5) ග්‍රෑම්120 කි.

**19.** කිරි, සීනි හා අර්තාපල් යන ආහාර ද්‍රව්‍යවල අඩංගු කාබොහයිඩ්‍රේට වනුයේ පිළිවෙළින්,

(1) ග්ලූකෝස්, ෆෲක්ටෝස් සහ ඇමයිලෝ පෙක්ටින් ය.
(2) ලැක්ටෝස්, ග්ලූකෝස් සහ පෙක්ටින් ය.
(3) ඇමයිලෝස්, මෝල්ටෝස් සහ ඉනියුලින් ය.
(4) ලැක්ටෝස්, සුක්‍රෝස් සහ පිෂ්ටය ය.
(5) ගැලැක්ටෝස්, ඩෙක්ස්ට්‍රින් සහ සෙලියුලෝස් ය.

**20.** මාලු සහ බිත්තර පිළිබඳව සිසුවෙකු විසින් ලියන ලද සටහනක පහත සඳහන් කරුණු ඇතුළත්ව තිබිණි.

*A* - මාලු, හීම් යකඩ බහුලව අඩංගු ආහාරයකි.
*B* - බිත්තරවල ඇල්බියුමින් සහ ඕවොවිටලින් යන ප්‍රෝටීන අඩංගු ය.
*C* - මාලු, විටමින් A හා C බහුල ආහාරයකි.
*D* - මාලුවල අත්‍යවශ්‍ය මේද අම්ල අඩංගු ය.
*E* - බිත්තර සුදු මදය, මේදය, විටමින් D හා E වලින් සරු ය

මේවායින් නිවැරදි කරුණු වනුයේ,

(1) *A*, *B* හා *C* ය. (2) *A*, *B* හා *D* ය. (3) *C*, *D* හා *E* ය. (4) *A* හා *E* ය. (5) *B* හා *D* ය.

**21.** පහත සඳහන් ඒවා අතුරෙන් ප්‍රෝටීන් 20% ක් පමණ ප්‍රමාණයක් අඩංගු ආහාර ද්‍රව්‍ය වනුයේ,

(1) මස් සහ කඩල ය.
(2) පරිප්පු සහ තිරිඟු ය.
(3) කිරි සහ මාලු ය.
(4) බිත්තර සහ සහල් ය.
(5) සෝයාබෝංචි සහ දඹල ය.

**22.** ආහාර ද්‍රව්‍ය කිහිපයක් පිළිබඳ කරුණු පහත දැක්වේ.

*A* - ලෙගියුමින් නම් ප්‍රෝටීනය අඩංගු වේ.
*B* - විටමින් C බහුල ය.
*C* - ශරීරයට ශක්තිය ලබා දෙයි.
*D* - බහු අසංතෘප්ත මේද අම්ල අඩංගු ය.
*E* - යකඩ සහ බීටා කැරොටීන්වලින් සරු ය.

මේවායින් පලාවර්ග හා සම්බන්ධ කරුණු වනුයේ,

(1) *A* හා *B* ය. (2) *A* හා *D* ය. (3) *B* හා *E* ය. (4) *C* හා *D* ය. (5) *C* හා *E* ය.

**23.** ක්ලොරොෆිල්, ඇන්තොසයනින් සහ ෆ්ලේවෝන් යන වර්ණක බහුලව අඩංගු වන එළවළු වනුයේ පිළිවෙළින්,

(1) ලීක්ස්, කරවිල සහ වට්ටක්කා ය.
(2) සාරණ, බණ්ඩක්කා සහ ගෝවා ය.
(3) කංකුං, තක්කාලි සහ පිපිඤ්ඤා ය.
(4) නිවිති, බීට් සහ රාබු ය.
(5) බෝංචි, මාලුමිරිස් සහ වම්බටු ය.

**24.** පහත දැක්වෙන ආහාරවේල් අතුරෙන්, වඩාත් ම යෝග්‍ය නිර්මාංශ ආහාරවේල කුමක් ද?

(1) බත්, අර්තාපල් ව්‍යංජනය, බණ්ඩක්කා තෙම්පරාදුව, කරවිල බැදුම, ගොටුකොළ සම්බෝලය
(2) බත්, පිපිඤ්ඤා ව්‍යංජනය, අලුකෙසෙල් බැදුම, මුකුනුවැන්න මැල්ලුම, තක්කාලි සලාදය
(3) බත්, පරිප්පු ව්‍යංජනය, වම්බටු බැදුම, ගෝවා තෙම්පරාදුව, බීට් සලාදය
(4) බත්, කිරිකොස් මාලුව, වැටකොළු ව්‍යංජනය, මැකරල් බැදුම, කොහිල සම්බෝලය
(5) බත්, කඩල කරිය, බෝංචි තෙම්පරාදුව, කතුරුමුරුංගා මැල්ලුම, කැරට් සම්බෝලය

[ හතරවැනි පිටුව බලන්න.

25. තුවාල සුවවීම පමාවීම සහ විදුරුමස්වලින් රුධිරය වහනය වීම යන රෝග ලක්ෂණ පෙන්නුම් කරන්නේ පහත සඳහන් කුමන විටමිනය ඌන වූ විට ද?
(1) විටමින් A (2) විටමින් $B_1$ (3) විටමින් $B_2$ (4) විටමින් C (5) විටමින් E

26. ආමාශයික ප්‍රදාහය (ගැස්ට්‍රයිටිස්) ඇති වීමට හේතු වන බැක්ටීරියාව වනුයේ,
(1) ස්ට්‍රෙප්ටොකොකස් ලැක්ටිස් ය. (2) ඇසිටොබැක්ටර් ඇසිටයි ය.
(3) හෙලිකොබැක්ටර් පයිලෝරා ය. (4) එස්චෙරිෂියා කෝලයි ය.
(5) ලැක්ටොබැසිලස් බල්ගරිකස් ය.

27. හෘද රෝගියකු සඳහා සැලසුම් කරන ආහාර වේලකට අනුමත ආහාර වර්ගයක් වන්නේ,
(1) සැමන් ය. (2) මාජරීන් ය. (3) මුදවාපු කිරි ය. (4) ඉස්සන් ය. (5) කුකුල් මස් ය.

28. ජලය රත්කර, මේදය එකතුකර, එයට පිටි යොදා මිශ්‍රකර, පසුව බිත්තර එකතු කරනුයේ මින් කුමන පේස්ට්‍රි වර්ගය සෑදීමේ දී ද?
(1) පෆ් පේස්ට්‍රිය (2) පැටි පෙස්ට්‍රිය (3) ශෝට්ක්‍රස්ට් පේස්ට්‍රිය (4) චූ පේස්ට්‍රිය (5) ෆ්ලේකි පේස්ට්‍රිය

29. මන්ද පෝෂණ තත්ත්වය බහුලව ව්‍යාප්තව ඇත්තේ,
(1) ළදරුවන් අතර ය. (2) මුල් ළමාවිය දරුවන් අතර ය. (3) ගර්භිණී මව්වරුන් අතර ය.
(4) ක්ෂීරණ මව්වරුන් අතර ය. (5) මහලු පුද්ගලයන් අතර ය.

30. කට්ලට් බැදීමේ දී තාපය සංක්‍රමණය වනුයේ,
(1) සන්නයනය මගිනි. (2) සංවහනය මගිනි.
(3) සන්නයනය සහ සංවහනය මගිනි. (4) සන්නයනය සහ විකිරණය මගිනි.
(5) සංවහනය සහ විකිරණය මගිනි.

31. ආහාර පරිරක්ෂණය සම්බන්ධ පහත දක්වා ඇති ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) අධි ශීතනය මගින් ආහාරයක අඩංගු බැක්ටීරියා වැඩි ප්‍රමාණයක් විනාශ වේ.
(2) පැස්ටරීකරණයේ දී ව්‍යාධිජනක බැක්ටීරියා මෙන් ම ඒවායේ බීජානු ද විනාශයට පත් වේ.
(3) විසිර වියලනය මගින් උකුකිරි නිෂ්පාදනය කරයි.
(4) මස් හා මාලු වර්ග පරිරක්ෂණයේ දී සෝඩියම් නයිට්‍රේට් භාවිත කරයි.
(5) බොහෝ එළවළු පරිරක්ෂණයට පෙර බ්ලාන්ච් කරනු ලබයි.

32. පිළිවෙළින් ඇමයිලේස්, පෙප්ටිඩේස් සහ රෙනින් යන එන්සයිම මගින් ජීරණය සිදු වන්නේ ජීරණ පද්ධතියේ පහත සඳහන් කුමන කොටස්වල දී ද?
(1) ක්ෂුද්‍රාන්ත්‍රය, ආමාශය, ග්‍රහණිය (2) මුඛය, ග්‍රහණිය, ආමාශය
(3) ක්ෂුද්‍රාන්ත්‍රය, මුඛය, ආමාශය (4) ග්‍රහණිය, ක්ෂුද්‍රාන්ත්‍රය, ආමාශය
(5) මුඛය, ක්ෂුද්‍රාන්ත්‍රය, ග්‍රහණිය

33. මහාන්ත්‍රයේ දී අවශෝෂණය කරනු ලබන ද්‍රව්‍ය වනුයේ,
(1) අම්ල හා වායු ය. (2) ග්ලූකෝස් හා ෆෘක්ටෝස් ය.
(3) ග්ලිසරෝල් හා මේද අම්ල ය. (4) ඇමයිනෝ අම්ල ය.
(5) කැල්සියම් හා මැග්නීසියම් ය.

34. පරිවෘත්තිය ක්‍රියාවලිය හා සම්බන්ධ **සාවද්‍ය** ප්‍රකාශය මින් කුමක් ද?
(1) මේද පරිවෘත්තියේ දී නිපදවන වැඩිපුර කීටෝන් දේහ රුධිරයේ ආම්ලිකතාව වැඩි කරයි.
(2) ඇමයින්හරණයේ දී ඇමයිනෝ අම්ලයක ඇමයිනෝ කාණ්ඩය ඉවත් වේ.
(3) ග්ලයිකොජන් ග්ලූකෝස් බවට පත් කරන එපිනෙෆ්‍රින් හෝමෝනය තයිරොයිඩ් ග්‍රන්ථිය මගින් නිපදවයි.
(4) ග්ලයිකොලිසිය නිර්වායු ක්‍රියාවලියකි.
(5) සිරුර තුළ ශක්තිය නිපදවීම අපචෘත්තිය ක්‍රියාවලියකි.

35. දරුවකුගේ ස්ත්‍රී පුරුෂභාවය නිර්ණය කරන සාධකය වනුයේ,
(1) මවගේ ලිංගික වර්ණදේහවල ස්වභාවයයි.
(2) පියාගේ ලිංගික වර්ණදේහවල ස්වභාවයයි.
(3) මවගේ සහ පියාගේ ලිංගික වර්ණදේහවල ස්වභාවයයි.
(4) මවගේ ලිංගික වර්ණදේහ සංඛ්‍යාවයි.
(5) පියාගේ ලිංගික වර්ණදේහ සංඛ්‍යාවයි.

**36.** පහත දැක්වෙන ඒවායින් ගර්භිණී අවධිය තුළ සිදුවන ක්‍රියාවලිය කුමක් ද?
(1) ඩිම්බ පරිණත වීම සඳහා ඔක්සිටොසින් හෝමෝනය ක්‍රියා කරයි.
(2) ඩිම්බකෝෂවලින් එක් මසක් තුළ පරිණත ඩිම්බ කිහිපයක් පිට වේ.
(3) ඩිම්බ මෝචනයෙන් පැය 48 ක් තුළ සංසේචනය සිදු වේ.
(4) සංසේචනයෙන් පසු දින තුනක් තුළ කලලය ගර්භාෂයෙහි අධිරෝපණය වේ.
(5) සංසේචනය නොවූ ඩිම්බ ආර්තවය මගින් සිරුරෙන් බැහැර වේ.

**37.** ගර්භිණී අවධියේ තෙවන ත්‍රෛමාසිකය තුළ භ්‍රෑණයාගේ සංවර්ධනයෙහි ලක්ෂණයක් වනුයේ,
(1) අත්පාවල ඇඟිලි වර්ධනය ආරම්භ වීම ය. (2) හෘද ස්පන්දනය ආරම්භ වීම ය.
(3) ජීරණ එන්සයිම ක්‍රියාකාරී වීම ය. (4) භ්‍රෑණ චලනයන් ආරම්භ වීම ය.
(5) බහිස්‍රාවීය පද්ධතිය ක්‍රියාකාරීව තිබීම ය.

**38.** පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් ළදරුවිය හා සම්බන්ධ නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) ඉපදී මුල්දින කිහිපය තුළ ළදරුවාගේ ශරීර බර අඩු වේ.
(2) වයස මාස දෙකෙහි දී ළදරුවා නිත්දෙන් සිනාසීම ආරම්භ කරයි.
(3) වයස මාස හතරක් වන විට සාමාන්‍යයෙන් ළදරුවාගේ කිරිදත් මතු වේ.
(4) වයස මාස අටේ දී පමණ, ආධාරකයක් නොමැතිව ඇවිදීමට ළදරුවා හැකියාව ලබයි.
(5) වයස මාස නවය වනවිට ළදරුවාගේ බර උපත් බර මෙන් තුන්ගුණයක් වේ.

**39.** ජාතික ප්‍රතිශක්තිකරණ වැඩසටහන (2007) ට අනුව දරුවාට එන්නත් ලබාදීම පිළිබඳ නිවැරදි ප්‍රකාශය මින් කුමක් ද?
(1) BCG එන්නත දෙනු ලබන්නේ දරුවා ඉපදී සති හතර සම්පූර්ණ වූ පසුව ය.
(2) දරුවාට මාස දෙක සම්පූර්ණ වූ විට පංච සංයුජ එන්නතෙහි පළමුවන මාත්‍රාව දෙනු ලබයි.
(3) JE එන්නත දෙනු ලබන්නේ දරුවාට මාස හය සම්පූර්ණ වූ විට ය.
(4) පෝලියෝ මුඛ එන්නතෙහි හතරවන මාත්‍රාව, දරුවාට මාස දොළහ සම්පූර්ණ වූ විට දෙනු ලබයි.
(5) අවුරුදු තුන සම්පූර්ණ වූ විට දරුවාට DT එන්නත දෙනු ලබයි.

**40.** අවුරුදු හතරක් වයසැති දරුවකුගේ සියුම් මාංශ පේශි වර්ධනය සඳහා වඩාත් සුදුසු ක්‍රියාකාරකම් දෙකක් වන්නේ,
(1) චිත්‍ර ඇඳීම සහ චලනය වන සෙල්ලම් වාහන සමග ක්‍රීඩා කිරීමයි.
(2) කොලාජ් නිර්මාණ කිරීම සහ සුළං පිරවූ රෝදයක් පෙරළීමයි.
(3) කතුරෙන් හැඩතල කැපීම සහ තිත් ඉරි යා කිරීමයි.
(4) බෙර වාදනය සහ කෘත්‍රිම මැටිවලින් ඇඹීමයි.
(5) රූපයක් පාට කිරීම සහ බෝලයක් විසි කිරීමයි.

**41.** පසු ළමාවියෙහි දරුවකුගේ සමාජ ජීවිතයෙහි දක්නට ලැබෙන අයහපත් හැසිරීම් රටාවක් වනුයේ,
(1) ආත්මාභිමානයයි. (2) අනුකරණයයි. (3) ආත්ම කේන්ද්‍රීය බවයි.
(4) තරඟකාරී බවයි. (5) නම්‍යශීලි බවයි.

**42.** පසු ළමාවිය දරුවකුගේ සංවර්ධනයෙහි ලක්ෂණ පිළිබඳ **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) පැහැදිලිව අදහස් ඉදිරිපත් කිරීමට හැකියාව ලබයි.
(2) ඉගෙනීමේ දී තැත් වරද ක්‍රමය උපයෝගී කර ගනියි.
(3) සමාජානුයෝගී හැසිරීම් රටා පෙන්නුම් කරයි.
(4) භාවිකයන් ප්‍රකාශ කිරීම පාලනය කිරීමට උත්සාහ දරයි.
(5) නීතිරීති පිළිපැදීම සහ සාරධර්මවලට ගරු කිරීමට පෙලඹෙයි.

**43.**



A B C D

ඉහත දැක්වෙන රූපසටහන් අතුරෙන් මැට් වියමන (ජටා වියමන) සහ සරල හීරි වියමන දැක්වෙනුයේ පිළිවෙළින්,
(1) A සහ B වලිනි. (2) A සහ C වලිනි. (3) B සහ C වලිනි.
(4) B සහ D වලිනි. (5) C සහ D වලිනි.

**44.** විවෘත මූට්ටුවක අද්දර නිම කරන ආකාර දෙකක් වනුයේ,

(1) බ්ලැන්කට් මැස්ම යෙදීම සහ හීන්නූල් දුවවීම ය.
(2) පිස්මේන්තු මැස්ම යෙදීම සහ බොරුනූල් ඇදීම ය.
(3) බොරුනූල් ඇදීම සහ ඕවර්ලොක් කිරීම ය.
(4) හීන් නූල් දුවවීම සහ පිස්මේන්තු මැස්ම යෙදීම ය.
(5) ඕවර්ලොක් කිරීම සහ බ්ලැන්කට් මැස්ම යෙදීම ය.

**45.**



1 (a) 1 (b) 2 (a) 2 (b)

1 (a), 1 (b) සහ 2 (a), 2 (b) වලින් දැක්වෙනුයේ කෙඳි වර්ග දෙකක දික්කඩ හා හරස්කඩ අන්වීක්ෂීය පෙනුම වේ. මෙම කෙඳි වර්ග දෙක වනුයේ පිළිවෙළින්,

(1) කපු සහ නයිලෝන් ය.
(2) සේද සහ රෙයෝන් ය.
(3) ලෝම සහ කපු ය.
(4) නයිලෝන් සහ රෙයෝන් ය.
(5) ලෝම සහ සේද ය.

**46.** සිසු සටහනක සඳහන්ව තිබූ වැකි කිහිපයක් පහත දැක්වේ.

*A* - හිරුඑළියෙහි අඩංගු පාරජම්බුල කිරණ සේද රෙදි මත පතිත වීමෙන් එහි කෙඳිවලට හානි සිදු නොවේ.
*B* - ක්විල්ට් කිරීමේ දී මෝස්තරයේ රේඛා මැසීම සඳහා හීන්නූල් දුවවීම භාවිත වේ.
*C* - රෙයෝන් කෙඳි පිළිස්සීමේ දී හිසකෙස් පිළිස්සෙන ගඳක් නිකුත් වේ.
*D* - රෙද්දක් විකර්ණාකාරව ඇදීමෙන් එහි ඇද ඉවත් කර ගත හැකි ය.
*E* - කමිස පතරොම නිර්මාණයේ දී පපුව මිනුම ගණනය කර ඉන් අනතුරුව ලිහිල් වාසි එකතු කරයි.

මින් නිවැරදි වැකි වනුයේ,

(1) *A* හා *B* ය. (2) *B* හා *D* ය. (3) *C* හා *D* ය. (4) *A*, *C* හා *E* ය. (5) *B*, *D* හා *E* ය.

**47.** වියන ලද රෙදිවල රැළි ඉවත් කිරීම සඳහා දෙනු ලබන නිමාවක් වන්නේ,

(1) කැලැන්ඩරීකරණයයි.
(2) මසරීකරණයයි.
(3) සැන්ෆරීකරණයයි.
(4) විරංජනයයි.
(5) ටෙන්ටරීකරණයයි.

**48.** සාරි හැට්ට පතරොම රෙද්දට පිටපත් කිරීමේ දී අවශ්‍ය වන ද්‍රව්‍ය සහ මෙවලම් වනුයේ,

(1) මිනුම් පටිය, සන්නාලි හුනු සහ දැතිරෝදය ය.
(2) දැතිරෝදය, කාබන් කඩදාසිය සහ අල්පෙනෙති ය.
(3) අල්පෙනෙති, සන්නාලි හුනු සහ දැතිරෝදය ය.
(4) කාබන් කඩදාසිය, මිනුම් පටිය සහ අල්පෙනෙති ය.
(5) සන්නාලි හුනු, කාබන් කඩදාසිය සහ මිනුම් පටිය ය.

**49.** රෙදිපිළි සුරැකීම පිළිබඳව සිසුන් විසින් ඉදිරිපත් කරන ලද ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ. මින් නිවැරදි ප්‍රකාශය තෝරන්න.

(1) රෙදි සේදීම සඳහා භාවිත කරන සබන්වල ක්ෂාර වැඩි ප්‍රමාණයක් අඩංගු වන බැවින් රෙදිවල කුණු ඉවත් කර ගැනීම පහසු වේ.
(2) ජලයෙහි ස්ථිර කඨිනත්වයට හේතු වනුයේ කැල්සියම් සහ මැග්නීසියම්වල කාබනේට ය.
(3) පැල්ලම්හරණය සඳහා භාවිත කරන විරංජන කුඩු, ඔක්සිකාරක විරංජකයක් වන අතර ජැවල් වතුර ඔක්සිහාරක විරංජකයක් වේ.
(4) රෙදි සේදීම සඳහා භාවිත කරන සබන් එකතු වීමෙන් ජලයෙහි පෘෂ්ඨීක ආතතිය වැඩි වේ.
(5) ස්ටියරික් අම්ලය සමග කෝස්ටික් සෝඩා ප්‍රතික්‍රියා කිරීමෙන් සබන් සහ ග්ලිසරෝල් සෑදේ.

**50.** ඇඳුමක සුරක්ෂිතතාව පිළිබඳ ලේබලයක 'විරංජක භාවිත නොකළ යුතු ය' සහ 'සමතලා පෘෂ්ඨයක් මත තබා වේලාගත යුතු ය' යන බව දැක්වීම සඳහා තිබිය යුතු සංකේත පිළිවෙළින් දැක්වෙන වරණය තෝරන්න.

(1) 
(2) 
(3) 
(4) 
(5) 

***

09608

AL/2017/28/S-II





**අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்**
**General Certificate of Education (Adv. Level) Examination, August 2017**

| | | | |
|---|---|---|---|
| ගෘහ ආර්ථික විද්‍යාව II<br>மனைப் பொருளியல் II<br>Home Economics II | 28 S II | | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**උපදෙස්:**

※ I කොටසින් **පළමුවන** ප්‍රශ්නය ඇතුළු ව ප්‍රශ්න **තුනකට** ද II කොටසින් **පස්වන** ප්‍රශ්නය ඇතුළු ව ප්‍රශ්න **හතරකට** ද පිළිතුරු සපයන්න.

## I කොටස

(**පළමුවන** ප්‍රශ්නය සහ තවත් ප්‍රශ්න **දෙකක්** ද ඇතුළු ව ප්‍රශ්න **තුනකට** පිළිතුරු සපයන්න.)

**1.** 'නිවාස' ප්‍රදර්ශනය ඉතා සාර්ථක වූ බව එහි සංවිධායකයෝ ප්‍රකාශ කළහ. නිවෙස් සැලසුම් කිරීමේ සිට අලංකරණය දක්වා අනුගමනය කළයුතු සියලු පියවර පිළිබඳව එහි දී දැනුවත් වීමට නරඹන්නන්ට අවස්ථාව සැලසිණි. ඉදිරිපත් කර තිබූ නිවෙස් ආකෘති සමග නිවෙස් ඉදි කිරීමේ දී යොදා ගන්නා විවිධ ගොඩනැගිලි ද්‍රව්‍යවල නියැදි ද විය. ප්‍රදර්ශනයෙහි තිබූ ගෘහපිළි සහ උපාංග ද සිත් ඇදගන්නාසුලු විය.

(i) ගෘහ නිර්මාණයේ දී භාවිත වන ගොඩනැගිලි ද්‍රව්‍ය **තුනක්** සඳහන් කර, ඒ එකිනෙකෙහි වාසි සහ අවාසි **දෙක** බැගින් ලියන්න.

(ii) නිවෙස් ආකෘති අලංකරණයේ දී රිද්මය යොදා ගෙන තිබූ ආකාර දෙකකි, 'ප්‍රතියෝගය' සහ 'විකිරණය'.

(a) 'ප්‍රතියෝගය' සහ 'විකිරණය' හඳුන්වන්න.

(b) නිවෙස් ආකෘතිවල 'ප්‍රතියෝගය' සහ 'විකිරණය' පිළිබිඹු වන ස්ථාන එක බැගින් රූපසටහන් මගින් දක්වන්න.

(iii) සටහන් ලියන්න.

(a) නිවසක විවිධ ස්ථාන සඳහා උපාංග තෝරා ගැනීම

(b) පෞද්ගලිකත්වය ආරක්ෂා වන පරිදි නිවසක් සැලසුම් කිරීම

(iv) අලංකාර මේස රෙදි ද ප්‍රදර්ශනයෙහි ඉදිරිපත් කර තිබිණි. මේස රෙද්දක්,

(a) මැසීමට අවශ්‍ය ද්‍රව්‍ය තෝරා ගැනීමේ දී

(b) නිර්මාණය කිරීමේ දී

සැලකිලිමත් විය යුතු කරුණු ඉදිරිපත් කරන්න.

(v) ළදරු කාමර අලංකරණය මෙන් ම ළදරු කට්ටල පිළිබඳව වීඩියෝ දර්ශණයක් ද විය. ළදරු ඇඳ ඇතිරිල්ලක් නිර්මාණය කිරීම සඳහා අවශ්‍ය පිරිසැලසුම ගොඩනගන්න.

**2.** (i) (a) සත්ත්වමය කෙඳිවල භෞතික ගුණාංග දක්වන්න.

(b) කපු කෙඳි හඳුනා ගැනීමේ සරල පරීක්ෂණ පැහැදිලි කරන්න.

(ii) වියන ලද රෙදිපිළි මෙන් ම නොවියන ලද රෙදිපිළි ද වෙළෙඳපොළෙහි ඇත. නොවියන ලද රෙදිපිළි නිෂ්පාදනය කරන ක්‍රම **දෙකක්** සඳහන් කර, ඉන් **එකක්** විස්තර කරන්න.

(iii) රෙදිපිළි සුරැකීම හා සම්බන්ධ නිර්ජල සේදීමේ ක්‍රියාවලිය පැහැදිලි කරන්න.

(iv) පිරිමි කමිසයක කරපටිය නිර්මාණය කරන අයුරු රූපසටහන් ඇසුරින් දක්වන්න.



[ දෙවැනි පිටුව බලන්න.

3.




(i) (a) ඉහත සැලසුමෙහි දක්වා ඇති කාමරය, කෑමකාමරය මෙන් ම මුළුතැන්ගෙය ලෙස ද භාවිත කරයි. මෙම කාමරය තුළ අවශ්‍ය ගෘහභාණ්ඩ ස්ථානගත කරන අයුරු දක්වන්න.

(b) ප්‍රිසිලා, කොටේජ් හා ටියර් යනු තිරරෙදි යෙදීමේ ක්‍රම තුනකි. මෙම ක්‍රම අතුරෙන් ඉහත දැක්වූ කාමරයෙහි ජනේලය සඳහා සුදුසු ක්‍රම **දෙකක්**, නම් කරන ලද රූපසටහන් ඇසුරින් දක්වන්න.

(ii) මෙම කාමරයෙහි මුළුතැන්ගෙය සඳහා වැඩ ඒකක නිර්මාණය කිරීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු පැහැදිලි කරන්න.

(iii) (a) 'බෙදුණු අනුපූරක වර්ණ ගැළපුම' හඳුන්වන්න. මෙයට උදාහරණයක් දෙන්න.

(b) ඉහත සඳහන් කළ වර්ණ ගැළපුම යොදා ගනිමින් මෙම කාමරය අලංකාර කරන අයුරු විස්තර කරන්න.

4. (i) ගෙවත්තක ඇකුම්කලු බව වැඩි කිරීම සඳහා එය සැලසුම් කර ගන්නා අයුරු පැහැදිලි කරන්න.

(ii) බත් පිසින උදුනක

(a) ක්‍රියාකාරිත්වය

(b) භාවිතය

(c) නඩත්තුව

විස්තර කරන්න.

(iii) සාරි හැට්ටයක පතරොම ගොඩනැගීමේ දී මූලික පතරොමෙහි පිටුපස ආරය ඉවත් කර ගන්නා අයුරු රූපසටහන් ඇසුරින් දක්වන්න.

(iv) පැහැදිලි කරන්න.

(a) හුරුලු කටු මැස්ම / ලේසි ඩේසි මැස්ම භාවිතයෙන් ඇඳුම් විසිතුරු කිරීම

(b) පැතලි මුට්ටුව

## II කොටස

(**පස්වන** ප්‍රශ්නය සහ තවත් ප්‍රශ්න **තුනක්** ද ඇතුළු ව ප්‍රශ්න **හතරකට** පිළිතුරු සපයන්න.)

5. යොවුන් වියෙහි දරුවන් පිළිබඳව කරන ලද සමීක්ෂණයක දී අනාවරණය වූ කරුණු කිහිපයක් පහත දැක්වේ.

- යොවුන් දරුවන් තුළ පෝෂණ අක්‍රමතා ඇතිවීමේ ප්‍රවණතාවක් දක්නට ඇත.
- සමහර යොවුන් දරුවන් චර්යාමය ගැටලු පිළිබිඹු කරයි.
- පාසල් හැරයන යොවුන් දරුවන්ට විධිමත් වෘත්තීය මාර්ගෝපදේශ සේවා ලබා දීම අවශ්‍ය වේ.

(i) යොවුන් වියෙහි දරුවන්ගේ පෝෂණ අවශ්‍යතා **තුනක්** නම් කර, එම එක් එක් අවශ්‍යතාව යොවුන් වියට වැදගත් වන අයුරු පැහැදිලි කරන්න.

(ii) යොවුන් වියෙහි දරුවන් තුළ මනා පෝෂණ තත්ත්වයක් ඇතිවීම කෙරෙහි බාධා කරන කරුණු විමසන්න.

(iii) යොවුන් දරුවන් අතර ජනප්‍රිය ආහාරයක් වන 'මාළු පාන්' නිවසේ දී සකස් කර ගැනීම සඳහා අනුගමනය කරන පියවර පැහැදිලි කරන්න.

(iv) යොවුන් වියෙහි දරුවන් තුළ ඇති විය හැකි චර්යාමය ගැටලු **හතරක්** ඉදිරිපත් කරන්න.

(v) යොවුන් දරුවන්ට සාර්ථක ලෙස අනාගතයට මුහුණ දීම සඳහා වෘත්තීය මාර්ගෝපදේශ සේවා වැදගත් වන්නේ කෙසේ දැයි සාකච්ඡා කරන්න.

**6.** (i) පැහැදිලි කරන්න.

(*a*) අඩුබර දරු උපත්

(*b*) ගර්භිණී අවධියෙහි බර වැඩිවීම

(ii) විස්තර කරන්න.

(*a*) මාතෘ සායනයක කරනු ලබන පරීක්ෂා සහ පරීක්ෂණ

(*b*) ගර්භිණී අවධියෙහි යකඩ පරිපූරණය

(iii) මුල් ළමාවියෙහි දරුවන් තුළ යහපත් පුරුදු පුහුණු කිරීමෙහිලා දෙමව්පියන්ගේ කාර්යභාරය විමසන්න.

(iv) මුල් ළමාවිය සංවර්ධන මධ්‍යස්ථානයක 'බාහිර ක්‍රියාකාරකම් සහ බාහිර ක්‍රීඩා' සැලසුම් කිරීම වැදගත් ය. මින් දරුවාට සැලසෙන යහපත පහදන්න.

**7.** අයහපත් ජීවන රටාව ශ්‍රී ලංකාවේ බෝ නොවන රෝග ඇති වීම කෙරෙහි ප්‍රබලව බලපායි.

(i) 'අයහපත් ජීවන රටාව' යනුවෙන් කුමක් අදහස් කරයි ද?

(ii) මලබද්ධය ඇතිවීම කෙරෙහි හේතුවන කරුණු **හතරක්** ඉදිරිපත් කරන්න.

(iii) ස්ථූලතාවය, විවිධ රෝග තත්ත්ව ඇති වීමේ අවදානම වැඩි කරයි. මෙබඳු රෝග තත්ත්ව **දෙකක්** ඇතිවීම කෙරෙහි ස්ථූලතාව බලපාන අයුරු පැහැදිලි කරන්න.

(iv) ඉහත (iii) ට අදාළව ඔබ සඳහන් කළ එක් රෝග තත්ත්වයකින් පෙළෙන අයෙකුගේ ආහාර රටාව වෙනස් කළ යුතු ආකාරය පිළිබඳව සාකච්ඡා කරන්න.

**8.** (i) 'පෝෂණ ගැටලු' යන්න අර්ථ දක්වන්න.

(ii) පැසීමට භාජනය වූ ආහාර පරිභෝජනයෙන් ඇතිවන වාසි සඳහන් කරන්න.

(iii) විටමින් A වලින් සිරුරට ඉටු වන කෘත්‍ය **හතරක්** විස්තර කරන්න.

(iv) කැල්සියම් ඌනතාව ජීවන චක්‍රයේ විවිධ අවධිවල දී ඇති විය හැකි ය. වයස අවුරුදු 0-5 දරුවන් අතර දක්නට ලැබෙන කැල්සියම් ඌනතාවයෙහි රෝග ලක්ෂණ පැහැදිලි කරන්න.

**9.** (i) ආහාර පරිභෝජනය කිරීමේ දී අනුගමනය කළ යුතු මේස පුරුදු / මේස සිරිත් **හතරක්** සඳහන් කරන්න.

(ii) (*a*) ආහාර පරිරක්ෂණයේ දී භාවිත වන විවිධ කාරක **තුනක්** නම් කරන්න.

(*b*) ඉහත (ii) (*a*) ට අදාළව ඔබ සඳහන් කළ එක් එක් කාරක භාවිත කරමින් සකස් කර ගන්නා පරිරක්ෂිත ආහාර එක බැගින් හඳුන්වන්න.

(*c*) මෙම ආහාර පරිරක්ෂණය සඳහා එම එක් එක් කාරකය ඉවහල් වන අයුරු පැහැදිලි කරන්න.

(iii) පසු ළමාවියේ දරුවන්ගේ බුද්ධි වර්ධනය සඳහා ගත හැකි ක්‍රියාමාර්ග පැහැදිලි කරන්න.

(iv) 'අන්තර්ජාලයෙහි පවත්නා දත්ත අනිසි ලෙස පරිහරණය කිරීමෙන් යොවුන් දරුවන් නොමඟ ගිය අවස්ථා ඇත.' සාකච්ඡා කරන්න.

* * *